ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

**S 3**

## 2559 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2015(2016)

### (03) ශාසන ඉතිහාසය

පැ තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් දෙකකින් සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් ප්‍රශ්න දෙකක් වත් ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න පහකට පමණක් පිළිතුරු සපයන්න.

### I කොටස

1. (i) බුදුරදුන්ගේ ප්‍රථම ධර්ම දේශනය නම් කොට එය කිනම් නුවරක දී, කිනම් ස්ථානයක දී, කිනම් ශ්‍රාවක පිරිසකට දේශනා කරන ලද දැයි දක්වා, ඔවුනතුරෙන් පළමු දහම් ඇස පහළ වූයේ කවරෙකුට ද? එසේ දහම් ඇස පහළ වූ විට බුදුරදුන් කළ ප්‍රකාශය කුමක් ද යන්න දක්වන්න. *(ලකුණු 06 යි)*

   (ii) බිම්බිසාර රජතුමාගේ ප්‍රාර්ථනා පහ නම් කර එතුමන් විසින් ඉදිකර වූ ආරාමයේ නම සඳහන් කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) 'බුදුරදුන් ධර්මදූතයන් මෙහෙය වූ ආකාරය, උන්වහන්සේගේ මහා කරුණාව හා තාදි ගුණය, උන්වහන්සේගේ සන්නිවේදන ක්‍රම, උන්වහන්සේගේ ප්‍රශ්න විසඳීමේ ක්‍රම මෙන්ම රාජානුග්‍රහය ද ශාසන ව්‍යාප්තියට උපකාර විය' යන ප්‍රකාශය තහවුරු කරන්න. *(ලකුණු 08 යි)*

2. (i) 'තම ධර්මදූත සේවාව සඳහා විශේෂඥ තෙරවරුන් යොදවා ගත් බුදුරජාණන් වහන්සේ උන්වහන්සේලාට අග්‍ර තනතුරු ප්‍රදානය කළහ' එවැනි විශේෂඥ තෙරවරුන් හය දෙනෙකු නම් කර එක් එක් තෙරුන් වහන්සේ ලත් අග්‍ර තනතුරු කවරේදැයි දක්වන්න. *(ලකුණු 06 යි)*

   (ii) 'බුදුරදුන් තම ධර්මදූත සේවයේ දී ආගමික මිථ්‍යා මත බැහැර කිරීම, සංග්‍රාම සංසිඳවීම, දාමරිකයන් දමනය කිරීම, විවිධ පීඩාවන්ගෙන් සමාජය මුදාගැනීම වැනි ආගමික, ආර්ථික, දේශපාලනික හා සාමාජික ගැටලුවලට විසඳුම් ඉදිරිපත් කළහ' මේ ප්‍රකාශය සැකෙවින් කරුණු දක්වමින් පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) "බුදුරදුන්ගේ ශාසනික මෙහෙවරින් තහවුරු වූ සමානාත්මතා ධර්මය නිසා කුලවාදයෙන් පීඩාවට ලක්වූවන්ගේ හා කාන්තාවන්ගේ විමුක්තිය සැලසිණි" යන ප්‍රකාශය විමර්ශනය කරන්න. *(ලකුණු 08 යි)*

3. (i) බුද්ධ ධර්මය පිළිබඳ සංගායනා කිහිපයක් භාරත දේශයේ ද ලංකාවේ ද සිදු වූ බව වාර්තා වෙයි. එම සංගායනා කවරේදැයි නම් කරන්න. *(ලකුණු 06 යි)*

   (ii) පළමු සංගායනාවට සහභාගි වූ බුදුරදුන්ගේ සම්මුඛ ශ්‍රාවකයන් ද එහි දී මූලික කාර්යභාරය ඉටුකළ තෙරවරුන් ද නම් කර එම තෙරවරුන් විසින් ඉටු කරන ලද කාර්යභාරය විස්තර කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) පළමු සංගායනාව අවසන් වීමෙන් පසු භික්ෂූන් වහන්සේලා විසින් ආනන්ද හිමියන්ට ඉදිරිපත් කළ චෝදනා පහ දක්වා ඒ සම්බන්ධයෙන් උන්වහන්සේ ක්‍රියා කළ ආකාරය පැහැදිලි කර බුද්ධ ශාසනයේ පැවැත්මට පළමු සංගායනාව නිසා මූලික පදනම වැටුණු ආකාරය කෙටියෙන් විස්තර කරන්න. *(ලකුණු 08 යි)*

4. (i) දශවස්තුව විනිශ්චය කිරීමට පත් කරන ලද කාරක සභාවේ වජ්ජිපුත්තක භික්ෂූන් වහන්සේලා වෙනුවෙන් පත් වූ හතර නමත් පාචෙය්‍යක භික්ෂූන් වහන්සේලා වෙනුවෙන් පත් වූ හතර නමත් නම් කරන්න. *(ලකුණු 06 යි)*

   (ii) භද්‍ර හෙවත් මහාදේව තෙරුන්ගේ පංච වස්තුව නම් කරන්න. *(ලකුණු 06 යි)*

   (iii) සංඝසමාජය නිකාය වශයෙන් බෙදී ගිය ආකාරය දක්වා නිකාය භේදය නිසා ඇති වූ ප්‍රතිඵල අගය කරන්න. *(ලකුණු 08 යි)*

[ දෙවන පිටුව බලන්න.

## II කොටස

**5.** (i) අශෝක රජතුමාගේ අනුග්‍රහයෙන් ධර්මදූත පිරිස් නවයක් රටවල් නවයකට යවන ලදහ. එසේ ධර්මදූත පිරිස් යැවුණු රටවල් හා එක් එක් රටට යැවුණු පිරිසේ ප්‍රධානත්වය දැරූ හිමිවරුන් නම් කරන්න. *(ලකුණු 06 යි)*

(ii) අශෝක රජතුමා බෞද්ධයකු වූ ආකාරය පිළිබඳ මතාන්තර දක්වා එතුමා බෞද්ධයකු වූ බව තහවුරු කිරීමට සාධක ඉදිරිපත් කරන්න. *(ලකුණු 06 යි)*

(iii) 'බෞද්ධ සමාජ දර්ශනය පදනම් කොට ගෙන ශ්‍රේෂ්ඨ ශිෂ්ටාචාරයක් ගොඩ නැගීමට ධර්මාශෝක අධිරාජයා සමත් විය' යන ප්‍රකාශය ඇගයීමට ලක් කරන්න. *(ලකුණු 08 යි)*

**6.** (i) මිහිඳු මහරහතන් වහන්සේ වැඩමවීමට පෙර ලක්වැසියන් බුදුහිමියන් හා බුදුදහම ගැන දැනසිටි බවට ඉදිරිපත් කළ හැකි සාධක නම් කරන්න. *(ලකුණු 06 යි)*

(ii) මිහිඳු මහරහතන් වහන්සේ දෙවන පෑතිස් රජතුමාගේ බුද්ධිය හා ධර්මාවබෝධ ශක්තිය විමසූ ආකාරය පැහැදිලි කර එහිමියන් ධර්මදේශනය සඳහා චූල්ලහත්ථිපදෝපම සූත්‍රය යොදාගන්නා ලද්දේ කවර හේතු නිසා දැයි දක්වන්න. *(ලකුණු 06 යි)*

(iii) 'ලංකාවෙහි බුද්ධ ශාසනය ප්‍රතිෂ්ඨාපනය සඳහා මිහිඳු මහරහතන් වහන්සේ විසින් අද්විතීය මෙහෙවරක් ඉටු කරන ලදී' යන ප්‍රකාශය විමර්ශනය කරන්න. *(ලකුණු 08 යි)*

**7.** (i) සුගතිගාමී වීමට හේතුවන ස්ථාන ලෙස මහාපරිනිබ්බාන සූත්‍රයේ දැක්වෙන ස්ථාන හතර නම් කොට අශ්වත්ථ වෘක්ෂය පූජනීය වස්තුවක් ලෙස සැලකුණු ආගමික අවස්ථා නම් කරන්න. *(ලකුණු 06 යි)*

(ii) මොග්ගලිපුත්තතිස්ස හිමියන් විසින් අශෝක රජතුමාට දැන්වූ බුදුරදුන්ගේ අධිෂ්ඨාන පහ නම් කරන්න. *(ලකුණු 06 යි)*

(iii) 'ද්‍රුමින්ද්‍රාගමනය ශ්‍රී ලංකාවේ ආගමික සංස්කෘතික හා කලා ශිල්ප, සාහිත්‍යාදියෙහි ප්‍රබෝධයට හේතුවිය' යන ප්‍රකාශය පැහැදිලි කරන්න. *(ලකුණු 08 යි)*

**8.** පහත සඳහන් මාතෘකා අතරින් හතරක් තෝරාගෙන කෙටි සටහන් ලියන්න.

(i) වජ්ජි ජනපදය

(ii) බිම්බිසාර රජතුමා

(iii) පැවිද්ද හා උපසම්පදාව

(iv) ලක්දිව භික්ෂුණී සමාජය

(v) ජේතවන විහාරය

(vi) ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කිරීම

(vii) ථූපාරාමය

(viii) දළදා වහන්සේ ලක්දිවට වැඩමවීම

*(ලකුණු 05 × 4 = 20 යි)*

***